ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

47 S

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2018 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2018 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2018

සිංහල සාහිත්‍ය රසාස්වාදය
இலக்கிய நயம் சிங்களம்
Appreciation of Sinhala Literary Texts

2018.12.11 / 1300 - 1610

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

| | | |
|---|---|---|
| අමතර කියවීම් කාලය | - | මිනිත්තු 10 යි |
| மேலதிக வாசிப்பு நேரம் | - | 10 நிமிடங்கள் |
| Additional Reading Time | - | 10 minutes |

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

※ **I** කොටසෙහි **1, 2** ප්‍රශ්නවලටත්, **II** කොටසෙහි **3** වැනි ප්‍රශ්නයටත්, **III** කොටසෙහි **4, 5, 6, 7** ප්‍රශ්නවලින් තෝරා ගත් ප්‍රශ්න **දෙකකටත්** පිළිතුරු සපයන්න.

## I කොටස

**1.** (i) සිට (v) තෙක් ඇති කොටස් කියවා, ඒවා ඇසුරින් අසා ඇති (අ), (ආ) ප්‍රශ්නවලට **කෙටි පිළිතුරු** ලියන්න.

(i) "මූ යන්ට අවසර නො ලද්දූ නම් ළය පැළී මිය යන්නාහ. වන්නාට දැනට යෙත්ව"
(අ) මෙහි 'මූ' යනුවෙන් හැඳින්වෙන්නේ කවරෙක් ද?
(ආ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කුමන අවස්ථාවක ද?

(ii) "දරුපෙම් මුණුබුරුපෙම් ඇත්තේ මට මතු නො වන්නේ වේ ද කාටත් සරි ය."
(අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
(ආ) මෙම ප්‍රකාශය ඇතුළත් මුල් කෘතියේ කතුවරයා නම් කරන්න.

(iii) "මෙහෙම ගියොත් අපට හෙටවත් යන්න වෙන්නේ නැහැ. ටිකක් ඉක්මන් කරපන්."
(අ) මෙම විධානය ලබන්නාගේ නම කුමක් ද?
(ආ) මෙම විධානය ශ්‍රවණය කරන තැනැත්තාගේ රැකියාව කුමක් ද?

(iv)
විපුල ගුණැති මහතුන් හට පත් විපත
නිසල නැණින් යුතු උතුමෝ ම දුර ලත
**කලල ගිලුණු** මත වරණිඳු ගොඩ ගනුත
**තුමුල බලැති** හිජිඳකු මිස අන් කෙවත

(අ) තද කළු අකුරින් මුද්‍රිත පදවල අර්ථය ලියන්න.
(ආ) මෙම කවියේ මුල් පද දෙකෙහි අදහස ලියන්න.

(v)
පැනැ-නැඟී අහසේ පැතිරී ගොසින්
මහ ගිමන් සිඳුවා සත සිත් තොසින්
කුඹුරු-වැව්-පොකුණුත් පුරවා දියෙන්
ලොවට දෙන්නා ඔබ යි අහරත් පැනුත්

(අ) "මහ ගිමන් සිඳුවා සත සිත් තොසින්" යන්නෙහි අර්ථය පැහැදිලි කරන්න.
(ආ) මෙහි 'ඔබ' යනුවෙන් ආමන්ත්‍රණය කරන්නේ කවරෙකුට ද? (ලකුණු 04 × 5 = 20 යි.)

**2.** පහත සඳහන් පැදි පෙළ කියවා, දී ඇති ප්‍රකාශ උපයෝගි කොට ගෙන **රසාස්වාදයක්** ලියන්න.

ගන්තුන තුලානේ අලියා වැටුණු වැ වේ
සුන්දරහාමි එතරම් පොහොසතෙක් නො වේ
තුන්ලාහකම බිම වැඩකර දියෙන් වැ වේ
රන් වන් කරල් බරවී දැන් බිමට නැ වේ

ඔහුගේ ගමට මා ගිය ඒ පළමු වර
තවමත් සිතේ ඇත අමතක නො වන යුර
හේනට ගොසින් ගෙන් හුවක් තරම දුර
එනවා දිටිමි මිටි බැඳ ගෙන වියළි දර

[දෙවැනි පිටුව බලන්න.

දරටික තබා සෙවණැති පලු ගසක යට
පිස දම දමා දාඩිය එන නළල පිට
මා එන තුරුම සිට පෙන්වූ සිනහ කට
තවමත් පෙනේ දුක් දොම්නස් අතර මට

පෙර දැක නොමැති මුත් සුන්දරහාමි විසින්
මගෙ තොරතුරු ඇසූ හැටි හිතවතකු ලෙසින්
ගෙඩියක් කඩාගෙන ගෙම්දුල තැඹිලි ගසින්
පිළිගැන්වීය මට සොම්නස පිරුණු ඇසින්

පොල් දෙහි දොඩම් ගස් තුන හතරකි වත්තේ
දුප්පත් කමයි හැම තැන ලකුණුව ඇත්තේ
කෙලෙසද කියා කළ ගුණ සැලකිය යුත්තේ
දුන් සත පනහවත් ඔහු නැත පිළි ගත්තේ

ආගන්තුකව එන කෙනෙකුට පුරුදු නැති
හිතවත් කමින් සැලකූ යුතුකමය සිතී
ඔහු වෙත මුදලකින් මා කළ හැටිය කුතී
සිහිවී මගේ කම්මුල රතු පැහැය ගතී

(i) මෙම පැදි පෙළට පාදක වී ඇති අත්දැකීම
(ii) පද්‍ය පන්තිය නිර්මාණයේ දී කවියා යොදා ගත් බස් වහර
(iii) සුන්දරහාමිගේ දිවිපෙවෙත
(iv) ආගන්තුකයන් කෙරෙහි දැක් වූ ග්‍රාමීය ආකල්පය
(v) කවියා තමන් පිළිබඳ ලැජ්ජා වීම (ලකුණු 25 යි.)

## II කොටස

- පහත සඳහන් ගද්‍ය - පද්‍ය කොටස් දෙකෙන් **එක කොටසකට පමණක්** පිළිතුරු සපයන්න.

**3.** "වහන්දෑ මෙ පවත් අසා 'නන්ද තෙරුන් වහන්සේ නම් බුදුන්ගේ කුඩා මෑණියන්දෑගේ පුත් සේක. මහණව කරන සංකමුත් ගෙය කඹුරන්නා සේ දෙවඟනන් නිසාල. එයින් ඇපයකට නො නිසි බුදුන්ගෙන් ඇප ඇතිව ලැ'යි නන්ද තෙරුන් වහන්සේ ළඟට ගොසින් මෙ හැම කියා වෙහෙසන සේක.

නන්ද තෙරුන් වහන්සේ ද වහන්දෑගේ කතාවෙන් තරයේ ම ලජ්ජා ඇතිව දෙවඟනන් කෙරෙහි කළ ආලය හැරී, පෙරළි හන්ට තුබූ දෙයක් නො හෙන ලෙස තනා තබා ගන්නා සේ පෙරළා මහණ දමට ම සිත්සතන් යොමු කොටලා රජ සිරි හැර අවුත් නිවන් සිරි නො වරදනා නිසා නො පමාව වසන සේක. යම් සේ ලේනෙක් තමා තරම් කෙනෙකුන් තමාට සතුරුව ආ කල තමාගේ නඟුට කුප්පවාලා එයින් ගසාලා පහ කෙරේ ද, එමෙන් ළං වූ කෙලෙස් සතුරු කෙනෙක් ඇත් නම් සතර සීවටන් නමැති මුගුරෙන් මරා පලවමින් යම් සේ දිවි දෙනෙක් කෙතෙක් වුවත් එක වරෙක වදන පැටවුන් මුත් දෙවන මුරයේ නො වදා ද, එක මුරයෙන් ම වඳ වේ ද, එපරිද්දෙන් උපන් ජාති විනා භවෝත්පත්ති නැති වීමට අදහස් ඇතිව යම් සේ දිවියෙක් තණ කැළෑ ආදිය යට වැදලා හිඳ ගොදුරු අල්වා ගනී ද, එසේ ම අර්හත් ඵල නමැති ගොදුරු නිසා ගම්භීරාරණ්‍ය රුක් මුල්, ගල්පාවුළු, කඳුරැලි, ගල්ගුහා සොහොන අබවස යනාදියට එළඹ, යම් සේ දිවියා ගොදුරු අල්වා ගත් කලට වමැළැයෙන් හුණු ගොදුරු නො කා ද එ පරිද්දෙන් එක් විසි අන්වේෂණ වශයෙන් වේවයි' වාග් විඥප්ති වශයෙන් වේවයි, උපන් දෙයක් ඇත්නම් විෂ මිශ්‍රයක් පරිද්දෙන් හැර විදසුන් වඩා රහත් ඵල නමැති වොටුනු පැළඳීමෙන් හැර ආ රාජාභිෂේකයට රාජ්‍යාභිෂේකයක් ලදින් හැර පියා ආ ගෙමඟුලට නිවන් ගෙමඟුල් කොට හැර ආ විවාමඟුලට පලසමවත් විවාමඟුල් කොට, බුදුන් සන්තක නිවන් රට තමන් වහන්සේටත් හිමි කළ සේක."

(i) බුදුරජාණන් වහන්සේ හා නන්ද තෙරුන් වහන්සේ අතර තිබූ ඥාති සම්බන්ධය කුමක් ද? (ලකුණු 05 යි.)
(ii) අනෙකුත් භික්ෂූන් වහන්සේලා නන්ද තෙරුන් වහන්සේ වෙහෙසීමට පත් කළ ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 05 යි.)
(iii) නන්ද කුමරු බලාපොරොත්තු වූ රාජාභිෂේකය, ඔටුනු පැළඳීම, ගෙමඟුල හා විවාමඟුල රහත් භාවයට පත්වීමෙන් ඉටු කර ගත් අයුරු ඡේදයෙන් නිරූපණය කර ඇත්තේ කෙසේ ද? (ලකුණු 05 යි.)
(iv) අපූර්ව උපමා නිර්මාණයේ දී කතුවරයා දැක් වූ දක්ෂතාව ඡේදය ඇසුරෙන් විමසන්න. (ලකුණු 10 යි.)
(ලකුණු 25 යි.)

[තුන්වැනි පිටුව බලන්න.

**නැතහොත්**

පුතු ඉපදුණු මේ පොළොවේ
උරුමය පුතුටයි
ඒ පොළොවේ ඔද තෙද ගුණ
පුතුහට පිහිටයි

විහාර මහ මැණිවරුන්
ඉපදුණු පොළොවයි
මද්දුම බණ්ඩාර පුතුන්
ඉපදුණු පොළොවයි
රාසිහ මහසෙන් දෙවිඳුන්
ඉපදුණු පොළොවයි
මින් මතුවට ඒ පොළොවේ
උරුමය පුතුටයි

මහ සෑ රන් කොත මුදුනේ
ගන රන් කිරණයි
සිරිමා බෝ මැඬ සෙවනේ
සිහිලැල් පවනයි
දළඳා හිමි රැඳි විමනේ
බුදුරැස් දහරයි
හැමදා හැම දුක් දුරලා
පුතු සිත සනසයි

සතර අතින් මුහුද නැඟී
පවුරු සදාලයි
වෙරළ දිගින් මුතු මතුවී
යසස උදා වෙයි
පොළොව පලා මිණි රුවනින්
ඉසුරු ගලා එයි
පොළොව එවන් පුතු උරුමෙන්
ලැබුව නිදානයි

(i) මෙම පද්‍ය පන්තිය නිර්මාණයේ දී කවියාගේ අපේක්ෂාව වූයේ කුමක් ද? (ලකුණු 05 යි.)

(ii) පුතුගේ සිත සැනසෙන්නේ කවර හේතු නිසා දැයි පැහැදිලි කරන්න. (ලකුණු 05 යි.)

(iii) පුතුට ඉසුරු ලබා දෙන මූලාශ්‍රය කවරේ ද? (ලකුණු 05 යි.)

(iv) තම අභිමතාර්ථය ඉටු කර ගැනීම සඳහා කවියා විසින් භාවිත අවස්ථා හා සිද්ධි අගයන්න. (ලකුණු 10 යි.)

(ලකුණු 25 යි.)

## III කොටස

මෙම කොටසෙන් ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සපයන්න.
(පිළිතුර වචන **150ට නො අඩු** විය යුතු ය.)

**4.** කුස කුමරු තමන් හමුවේ ඇති අභියෝග ජය ගැනීම සඳහා කටයුතු කළ ආකාරය නිදසුන් සහිත ව විස්තර කරන්න. (ලකුණු 15 යි.)

**5.** වෙසක් පහන කතුවරයා ළමා මනස නිරූපණය කිරීමෙහි ලා දැක්වූ කුසලතාව නිදසුන් සහිත ව පැහැදිලි කරන්න. (ලකුණු 15 යි.)

**6.** අලගියවන්න මුකවෙටි කවියා සමාජයේ යහ පැවැත්ම සඳහා **සුභාෂිත** කාව්‍යය මගින් දැරූ උත්සාහය නිදසුන් සහිත ව පැහැදිලි කරන්න. (ලකුණු 15 යි.)

**7.** "**තුංමංහන්දිය** නවකතාවේ අබිලිංගේ චරිතය මගින් ගැමි කලා ශිල්පියකුගේ භූමිකාව මැනවින් නිරූපණය වේ." විමසන්න. (ලකුණු 15 යි.)

(ලකුණු 15 × 2 = 30 යි.)

* * *